# ප්‍රාර්ථනාව

මට ඉතාමත්ම කෙටිකාලයකින් සැප සහිත ප්‍රතිපදාවෙන් සිව්පිළිසිඹියා සහිතව නිර්වානය අවබෝධ කරන්න හැකියාව ලැබේවා ! ! !

ඊලඟ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා...

සැමවිටම මේ සක්වලේම දිව්‍ය, බ්‍රහ්ම ලෝකවල පමණක්ම ඉපදේවා!
සැමවිටම සිහිය විකල් නොවී සිහියෙන්, ප්‍රඥාවෙන් යුතුව එම ලෝකවල සැපයන් පරිහරනය කරන්න හැකි වේවා!
කිසිවිටක බාදාවක් නැතිව සතුටින් එම සැපයන්ට නොඇලී ඒවා අත් හැරීමට ද හැකි වේවා!
උපධි සම්පත් සම්පූර්ණව ලබන අයෙක් වේවා!
සැමවිටම සිහි නුවනින් යුතු අයෙක්ම වේවා!
සැමවිටම සිහි නුවනින් පින් කිරීමට අවස්ථාව ලැබෙන දිව්‍ය ලෝකවලම ඉපදේවා!
සැමවිටම සිහි නුවනින් පින් අනුමෝදන් වීමට අවස්ථාව ලැබෙන දිව්‍ය ලෝකවලම ඉපදේවා!
කිසිවිටක කල්‍යාණ මිත්‍රයන් වහන්සේලාට සතුරු නොවෙත්වා!
කිසිවිටක ත්‍රිවිධ රත්නය කෙරෙහි අකුසල සිත් ඇති නොවේවා!
සැම කල්හිම තෙරුවණ කෙරෙහි ශ්‍රද්ධාවෙන්, ප්‍රඥාවෙන් අඩු නොවූ අයෙක්ම වේවා!
සැමවිටම සම්‍යක් දෘෂ්ඨික අයෙක්ම වේවා! කිසිවිටක, කිසිදු ආකාරයකින් මිත්‍යා දෘෂ්ඨික නොවේවා!
කිසිවිටක අල්පායුෂ ඇත්තේක් නොවේවා!
කිසිවිටක වෛර, ක්‍රෝධ, ද්වේෂ, ඊර්ෂා, ගැරහුම්, පළිගැනීම් හෝ වෙනත් කවර හෝ දුර්ජන සිත් ඇත්තෙක් නොවේවා!
කිසිවිටක අන් අයගේ සිත් තුළ වෛර, ක්‍රෝධ, ද්වේෂ, ඊර්ෂා, ගැරහුම්, පළිගැනීම්, චෝදනා හෝ වෙනත් කවර හෝ දුර්ජන සිත් උපදවන්නෙක් ද නොවේවා!
කිසිවිටක අහංකාර, මාන්නක්කාර, උඩගු ස්වභාවයන් ඇති අයෙක් නොවේවා!
කිසිවිටක සිතින්, කයෙන්, වචනයෙන් දස අකුසල් උපද්දවන කෙනෙකු නොවේවා!
කිසිවිටක අන් අයට වැරදි කරන්නෙක් නොවේවා!, දඬුවම් කරන්නෙක් ද නොවේවා!
කිසිවිටක වැරදි දේ කරන්නෙක් නොවේවා!, වැරදි කරුවෙක් ද නොවේවා!, දඬුවම් ලබන්නෙක් ද නොවේවා!

ඊලඟ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා හට...

සැමවිටම කල්‍යාණ මිත්‍රයන් වහන්සේලාගේ උපකාරය, අනුග්‍රහය අඩු නැතිව සිතගි පරිදි උසස් ලෙස ලැබේවා!
සැමවිටම සත්පුරුෂයන්ම ඇසුරට ලැබේවා!
සැමවිටම තථාගත ධර්මය නිවැරදිව ඒ ලෙසම අසන්න ලැබේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඇසීමෙන් උත්කෘෂ්ඨ දහම් රසයක් ලැබේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඒ ලෙසම උත්කෘෂ්ඨව නිවැරදිව දරාගන්න හැකි වේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඒ ලෙසම උත්කෘෂ්ඨව නිවැරදිව පිළිපදින්න හැකියාව ලැබේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඒ ලෙසම උත්කෘෂ්ඨව නිවැරදිව සිහි නුවනින් අර්ථ පිරික්සා විනිවිද දැකීමේ හැකියාව ලැබේවා!
අර්ථ පිරික්සා විනිවිද දැකීමෙන් උත්කෘෂ්ඨ දහම් රසයක් අත්විඳීමට හැකියාව ලැබේවා!
සැමවිටම සුමධුර ලෙසත්, විචිත්‍රවත් ලෙසත්, සිත් ඇද බැද තබා ගනිමින් ඒ තථාගත ධර්මය ඒ ලෙසම නිවැරදිව අන් අයට ද සිහි නුවනින් කියා දීමේ හැකියාව ලැබේවා!
සැමවිටම එසේ කියා දෙන තථාගත ධර්මය අසන අයට ද සිහි නුවනින් යුතුව නිවැරදිව උපරිමයෙන් ප්‍රයෝජන ලබන්න හැකියාව ලැබේවා!
අප්‍රමාදව තියුණු ලෙස සමාධිය දියුණු වීමට කිසිම ආකාරයේ බාධාවක් ඇති නොවේවා!

අප්‍රමාදව තියුණු ලෙස සමාධිය දියුණු වී කැමති කැමති තාක් සමාපත්තීන්ට, කැමති කැමති තාක් කාලයක් සමවැදීමට නිදුකින්ම හැකියාව ලැබේවා! එයින් උත්කෘෂ්ඨ සැපයක් අත්විඳින්න හැකියාව ලැබේවා!
අප්‍රමාදව තියුණු ලෙස සමාධිය දියුණු වී කැමති කැමති තාක් සමාපත්තීන්ට, කැමති කැමති තාක් කාලයක් සමවැදීමට කිසිදු බාධාවක්, කරදරයක්, පීඩාවක්, උවදුරක් කිසිම දෙයකින්, කෙනෙකුගෙන් ඇති නොවේවා!
පින්කරන, මාර්ගඵල අවබෝධයට කටයුතු කරන අයට අප්‍රමාදව අග්‍ර වූ සතුටකින් යුතුව උදව්, උපකාර කරන්න අවස්ථාව, හැකියාව ලැබේවා!
සෑමවිටම නෑ, බෑ නොකියා ශ්‍රද්ධාවෙන් සිල්වත්ව, සම්පූර්ණයෙන්ම අත්හැර නුවනින් යුතුව ත්‍රිවිධරත්නයට, මාර්ගඵල ලාභීන්ට උතුම්ම දේත් අග්‍රම දේත් දන් දීමට අවස්ථාව, හැකියාව ලැබේවා!
සෑමවිටම නෑ, බෑ නොකියා ශ්‍රද්ධාවෙන්, සම්පූර්ණයෙන්ම අත්හැර නුවනින් යුතුව දන් දීමේ අවස්ථාව, හැකියාව ලැබේවා!
සෑමවිටම සියළු පින්, පව් දැන හඳුනාගෙන සතුටු සිතින් පවෙන් මිදෙන්න හැකියාව ලැබේවා!
සෑමවිටම දස කුසල් අග්‍ර ලෙස උපද්දවන්න හැකියාව ලැබේවා!
සෑමවිටම පිනෙන් පව් නැතිව පිනම අග්‍ර ලෙස උපද්දවන්න හැකියාව, අවස්ථාව ලැබේවා!
සෑමවිටම සිහි නුවනින් උතුම් ලෙසත් අග්‍ර ලෙසත් පින් ඉපදවීමේ හැකියාවත්, දක්ෂතාවයත් ලැබේවා!
සෑමවිටම සිහි නුවනින් නිර්මාණශීලීව විචිත්‍රවත් පින්කම් කිරීමේ හැකියාව, අවස්ථාව ලැබේවා!
කිසිවිටක අපාය හෝ අපාය යන නාමයක්, සමානකමක් ඇති, දුක් සහිත තැනක ඉපදීමක් සිදු නොවේවා!
කිසිවිටක දන් පින්කම් කිරීමේ දී බාධා, අවහිරතා, ගැටලු ඇති නොවේවා!
කිසිවිටක අකුසල් සිදු කිරීමට පසුබිමක්, අවස්ථාවන් ඇතිවන අයෙක් නොවේවා!

ඊලඟ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මේ සියලු ප්‍රාර්ථනා අඩු පාඩු නැතිව එකවිට ඉටු වේවා!

මෙතෙක් මේ භවයේත් පෙර සසරේත් කරන ලද සියළු පින්කම් ද රකින ලද සීලයන් ද ඊලඟ භවයේ පටන් නිවන් දක්නා ජාති දක්වා මේ සියලු ප්‍රාර්ථනා අඩු පාඩු නැතිව එකවිට ඉටු වීමට හේතු වේවා!, වාසනා වේවා!

දෙවියන්ට පින් අනුමෝදන් කිරීමේ දී මෙම දෙවියන්ගේ නම් කියා පින් අනුමෝදන් කරන්න.

සහම්පතී මහා බ්‍රහ්මරාජයන්, සමන්කුමාර බ්‍රහ්මරාජයන්, සටීකාර බ්‍රහ්මරාජයන්, තිස්ස බ්‍රහ්මරාජයන්, සුද්ධාවාසී සියළුම බ්‍රහ්මරාජයන් වහන්සේලා, සදෙව් ලෝක වාසී මෛත්‍රී මහ බෝසතානන්, සක් දෙවිඳුන්, දසරාක්ෂ, විරූඩ, විරූපාක්ෂර, වෛශවන සතරවරම් දෙවියන්, සුමන සමන් දෙවියන්, වෙසමුනි දෙවියන්, විශ්වකර්ම දිව්‍ය පුත්‍රයන්, කළුබණ්ඩාර දෙවියන්, විෂ්ණු දෙවියන්, කතරගම දෙවියන්, යම දෙව් රජතුමා, ඇතුළු සියළුම ආර්යන් වහන්සේලාට පින් අනුමෝදන් වේවා!

තෙරුවන්සරණයි !

